## 04 වන ප්‍රශ්නය

4. (i) කිසියම් රටක, මෙම වර්ෂයේ දළ දේශීය නිෂ්පාදිතය මිනුම් කිරීමේදී, පහත සඳහන් දෑ අතුරෙන් කවරක් ඇතුළත් කර ගනු ලැබේ ද, කවරක් බැහැර කරනු ලැබේ ද යන්න දක්වා, එක් එක් කරුණ සම්බන්ධයෙන් ඔබේ පිළිතුර පැහැදිලි කරන්න.

(අ) ගෘහණියක් මෙම වර්ෂයේදී තම ගෙවත්තෙහි එළවළු වගාකොට, මුළු අස්වැන්නම තම නිවසේ පරිභෝජනයට ගනී.

(ආ) විශ්‍රාමික සේවකයෙක් තම විශ්‍රාම වැටුප රජයෙන් ලබා ගනී.

(ඉ) මෝටර් රථ වෙළෙන්දෙක් පාවිච්චි කරන ලද මෝටර් රථයක් අලෙවි කොට, ඒ සඳහා කොමිස් මුදලක් උපයා ගනී.

(ඊ) මවක් තම දියණියට නිවසේදී ගණිත පාඩමක් ඉගෙනීමට උදව් කරයි. (ලකුණු 04යි)

(ii) කල්පිත ආර්ථිකයක් පිළිබඳ පහත සඳහන් දත්ත ඔබ වෙත ලබා දී ඇතැයි උපකල්පනය කරන්න.

| අයිතමය | වටිනාකම (රුපියල් මිලියන) |
|---|---|
| දළ දේශීය ස්ථාවර ප්‍රාග්ධන සම්පාදනය | 800 |
| පෞද්ගලික පරිභෝජන වියදම් | 3 000 |
| ශුද්ධ විදේශ ප්‍රාථමික ආදායම් | 100 |
| ආණ්ඩුවේ මිල දී ගැනීම් | 900 |
| තොග වෙනස්වීම් | – 50 |
| අපනයන | 450 |
| ආනයන | 600 |
| නිෂ්පාදනය මත ශුද්ධ බදු | 150 |

වෙළෙඳපොළ මිල යටතේ දළ දේශීය නිෂ්පාදිතය ගණනය කරන්න. (ලකුණු 04යි)

(iii) කිසියම් ආර්ථිකයක මිනිසුන්ගේ ජීවන තත්ත්වය මැනීමේ මිනුමක් ලෙස, දළ දේශීය නිෂ්පාදිතය යොදා ගැනීමේ සීමාවන් කවරේ ද? (ලකුණු 04 යි)

(iv) පහත දැක්වෙන දෑ පැහැදිලි කරන්න.

(අ) එකතු කළ අගය

(ආ) පරිලේඛන (තොග) ආයෝජනය

(ඉ) දළ දේශීය නිෂ්පාදිතයේ අවධමනකය

(ඊ) නිෂ්පාදනය නොකළ මූල්‍ය නොවන වත්කම් (ලකුණු 08යි)

04. (i) (අ) - ඇතුළත් කෙරේ.

- කුටුම්බය තුළ නිෂ්පාදනය කෙරෙන සියලුම භාණ්ඩ, වෙළෙඳපොළක අලෙවිකළත්, ස්වයං පරිභෝජනයට ගනු ලැබුවත්, වෙනසකින් තොරව නිෂ්පාදන මායිම තුළට ඇතුළත් කරගැනේ.

(ආ) - බැහැර කෙරේ.

- විශ්‍රාම වැටුප සංක්‍රාම ගෙවීමකි. සාධක ආදායමක් නිරූපණය නොකරයි. දළ දේශීය නිෂ්පාදිතයට හෝ දළ ජාතික ආදායමට හෝ එය ඇතුළත් නොකෙරේ.

(ඉ) - ඇතුළත් කෙරේ

- පාවිච්චි කළ මෝටෝ රථ ආශ්‍රිත වෙළෙඳාමේ වටිනාකම දළ දේශීය නිෂ්පාදිතයට ඇතුළත් නොකළත්, මෝටෝ රථ වෙළෙන්දා අතරමැදියකු

වශයෙන් ඵලදායි කාර්යයක් හෙවත් වෙළෙඳාමක් කරන බැවින්, ඔහු උපයන කොමිස් මුදල වෙළෙඳාම ආශ්‍රිතව බිහිවන එකතු කළ අගයකි. දළ දේශීය නිෂ්පාදිතයේ එකතු කළ අගයන්ට එයද ඇතුළත් විය යුතුය.

(ඊ) - බැහැර කෙරේ.

- කුටුම්බය තුළ කුටුම්බ සාමාජිකයන් විසින් ඉටුකරනු ලබන කිසිදු සේවාවක් නිෂ්පාදන ඉම තුළට ඇතුළත් නොවේ.

**(එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි)**

(ii) - වෙළෙඳපොළ මිල යටතේ දළ දේශීය නිෂ්පාදිතය

$$GDP = C+I+G+X-M$$

$$=3000+800+(-50)+900+450-600$$ (ලකුණු 01 යි)

= රුපි. මිලියන 4500 (ලකුණු 01 යි)

(iii) - ජීවන තත්ත්වය මැනීමේ මිනුමක් ලෙස දළ දේශීය නිෂ්පාදිතයේ සීමාවන්.

- දළ දේශීය නිෂ්පාදිතය රටක නිෂ්පාදනය කරනු ලබන භෞතික භාණ්ඩ හා සේවා ප්‍රමාණය කැටිකොට දක්වන මිනුමක් වන අතර, පුද්ගලයන්ගේ ජීවන තත්ත්වය කෙරෙහි බලපෑම් කරන ගුණාත්මක කරුණු (උදා: සාමකාමී පරිසරයක්, අදහස් ප්‍රකාශනයේ නිදහස, යහපාලනය, තේරීමේ නිදහස යනාදිය) එම මිනුම තුළ සලකා නොබැලේ.

- නොවිධිමත් අංශයේ නිෂ්පාදනයේ වටිනාකම නිවැරදිව පිළිබිඹු නොවන බැවින්, රට තුළ නිපදවනු ලබන සැබෑ භෞතික භාණ්ඩ හා සේවා ප්‍රමාණය වුව ද එමගින් නිවැරදිව නොමැනේ. නොවිධිමත් අංශයේ ආර්ථික ක්‍රියාකාරකම් පිළිබඳ ඇස්තමේන්තු කළ අගයන්, සැබෑ අගයට වඩා ඌන තක්සේරු වූ හෝ අධි තක්සේරු වූ හෝ අගයන් විය හැකි ය.

- දළ දේශීය නිෂ්පාදිතයට අදාළ සංඛ්‍යා, රටක ආදායම ව්‍යාප්තියේ ස්වභාවය මුළුමනින් ම අමතක කොට ඇත. ජීවන තත්වය කෙරෙහි සෘජු, බලපෑමක් ඇති ආදායම් විෂමතාවන් ජාතික ගිණුම් දත්තවල පිළිබිඹු නොවේ.

- දළ දේශීය නිෂ්පාදිතය සහ ඒ හා අදාළ අනෙකුත් සංකල්ප (ප්‍රතිශීර්ෂ ආදායම, මූර්ත ආදායම) ජීවන තත්වය පිළිබඳ අසම්පූර්ණ මිනුම් වේ. බොහෝ ඵලදායි නිෂ්පාදන ක්‍රියාකාරකම් එමගින් පිළිබිඹු නොවේ. උදාහරණ වශයෙන් තමන් විසින් ම නිවස තුළ ඉටු කරන ඵලදායි කටයුතු, ගෘහණියන්ගේ සේවාවන් යනාදිය දැක්විය හැකි ය.

- නිවැරදි තොරතුරු සපයාගත නොහැකි නිසා නිරීක්ෂණය නොකරනු ලබන ආර්ථිකයේ සිදුවන නීති විරෝධී ආර්ථික ක්‍රියාකාරකම් (උදා: නීති විරෝධී මත්ද්‍රව්‍ය සහ මත්පැන්) වල වටිනාකම දළ දේශීය නිෂ්පාදිතය තුළ ඇතුළත් නොවේ.

- දළ දේශීය නිෂ්පාදිතය තුළ ඇතුළත් භාණ්ඩ හා සේවා මිනිසුන්ගේ ජීවිතයේ ගුණාත්මක තත්ත්වය කෙරෙහි කෙසේ බලපානු ලැබේදැයි එය සලකා නොබලයි.

උදාහරණයක් වශයෙන් නාගරික ප්‍රදේශවල ජීවත් වන මිනිසුන්ට තම ආදායමින් සැලකිය යුතු කොටසක් නාගරීකරණය ආශ්‍රිත ගැටලු විසඳාගැනීම සඳහා යොමු කිරීමට සිදුවේ. නිදසුනක් වශයෙන් නාගරික ප්‍රදේශවල මිනිසුන්ට තම නිවාස හා දේපළ සොරසතුරන්ගෙන් ආරක්ෂා කර ගැනීමට විශේෂ ආරක්ෂක විධිවිධාන සහ උපකරණ මිල දී ගැනීමට සිදුවේ.

- මිනිසුන් ජීවත්වන පරිසරයේ ගුණාත්මක තත්ත්වය දළ දේශීය නිෂ්පාදිතසංඛ්‍යා වලින් සොයා නොබැලේ. පරිසර දූෂණය වළක්වා ගැනීමට යොදා ගැනෙන නීති රීති ඉවත් කරනු ලැබුවහොත්, කිසියම් රටකට නිමැවුම් මට්ටම (දළ දේශීය නිෂ්පාදිතය) ඉහළ නංවාගත හැකිය. එහෙත් මෙහි දී ඉහළ ආදායම් මට්ටමක් හෝ ඉහළ ප්‍රතිශීර්ෂ ආදායමක් හෝ තිබූ පමණින්, ජීවන තත්වය උසස් වී ඇතැයි නිගමනය කළ නොහැකි ය. ආදායම ඉහළ ගොස් තිබිය දී වාතය, ජලය සහ වෙනත් සම්පත් දූෂණයට ලක්ව තිබය හැකි ය.

- මිනිසුන්ගේ ජීවිතයේ ගුණාත්මක තත්ත්වයට සෘජුවම බලපාන විවේක කාලය සඳහා දළ දේශීය නිෂ්පාදිත සංඛ්‍යා මගින් වටිනාකමක් ලබා නොදේ. මිනිසුන් දිනකට පැය 12 ක් සහ සතියකට දින 7 ක් වැඩෙහි යෙදුණොත් රටකට දළ දේශීය නිෂ්පාදිතය ඉහළ නංවා ගත හැකි ය. මිනිසුන්ට විවේක කාලයක් භුක්ති විඳීමට නිදහසක් නොමැති නම් භාණ්ඩ හා සේවා ප්‍රමාණය ඉහළ නංවාගැනීමෙන් උසස් ජීවන මට්ටමක් තහවුරු කරගත නොහැකි වේ.

- දළ දේශීය නිෂ්පාදිතය ගණනය කිරීමේදී යහපත් භාණ්ඩ සහ අයහපත් භාණ්ඩ වශයෙන් ප්‍රභේදයක් නොදකී. කිසියම් රටක භූමි කම්පාවක් හටගෙන නිවාස, ගොඩනැගිලි සියල්ල පුනරුත්ථාපනය කරනු ලැබුවහොත්. දළ දේශීය නිෂ්පාදිතය ඉහළ යයි. පුද්ගලයන් රෝගී තත්ත්වයට පත් වී එයින් වැළැකීම සඳහා රෝහල් ගත වුවහොත්, සහ ඖෂධ මිල දී ගත් විට, දළ දේශීය නිෂ්පාදිතය ඉහළ නගී. එහෙත් භූමි කම්පා හට ගැනීම හෝ මිනිසුන් රෝගී තත්වයට පත්වීම හෝ ජීවන තත්ත්වය උසස් වීමට දායක වෙතියි කිසිවෙක් නොපවසයි.

- තාක්ෂණයේ ප්‍රතිලාභ සැලකිල්ලට ගැනීමට ද දළ දේශීය නිෂ්පාදිත සංඛ්‍යා අසමත්ව සිටී. විවිධ නොමිල මෘදුකාංග (Free Apps) ඔස්සේ ඔබගේ ජංගම දුරකථනයට ලැබෙන විවිධ පහසුකම් (උදා: මාර්ග සිතියම්, කාලගුණ තොරතුරු, මාර්ග තදබදය පිළිබඳ තොරතුරු හා වෙනත් සංනිවේදන පහසුකම්) ගුණාත්මක ජීවන තත්ත්වය උසස් කිරීමට විශාල දායකත්වයක් සපයයි. එහෙත් ඒවා සඳහා මිලක් අය නොකෙරෙන බැවින්, එම ප්‍රතිලාභ ජාතික ගිණුම් වටිනාකම් තුළ පිළිබිඹු නොවේ.

(ඕනෑම එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි)

(iv) (අ) - කිසියම් ආයතනයක නිෂ්පාදනයේ වටිනාකමින් එම නිමැවුම බිහි කිරීම සඳහා වෙනත් ආයතනවලින් ලබාගත් සියලුම යෙදවුම්වල අගය අඩුකළ විට ශේෂ වනුයේ එකතුකළ අගයයි.

- ආයතනයේම ක්‍රියාකාරීත්වය නිසා නිෂ්පාදනයට සිදුවූ දායකත්වය එකතු කළ අගය නිරූපණය කරයි. මෙලෙස ආර්ථිකයේ සිටින සියලුම ආයතනවල එකතුකළ අගයන්ගේ ඓක්‍යය ගත්විට, එය සමස්ත නිෂ්පාදිතයේ වටිනාකම හෙවත් දේශීය නිමැවුම පෙන්නුම් කරයි. (ලකුණු 02 යි)

(ආ) - පරිලේඛන ආයෝජන යනුවෙන් අදහස් කරනුයේ නිෂ්පාදන ආයතනයක් සතු අමුද්‍රව්‍ය, අර්ධ නිමි භාණ්ඩ සහ අවසාන භාණ්ඩ තොගයනට කරනු ලබන එකතු කිරීම් ය.

- පරිලේඛන මත කෙරෙන ආයෝජන මට්ටම තීරණය කෙරෙනුයේ අනාගත ඉල්ලුම පිළිබඳව ආයතනය කරනු ලබන පුරෝකථනයන් සහ ඒ අනුව සකසා ගනු ලබන නිෂ්පාදන සැලසුම් මතය.

- නිෂ්පාදන මට්ටම සුමටව පවත්වාගෙන යාම සඳහා සතුටුදායක පරිලේඛන මට්ටමක් අවශ්‍ය වන අතර, ඉහළ නිමැවුම් මට්ටමක් සැලසුම් කරන විට පරිලේඛන ආයෝජන ද ඉහළ නැංවිය යුතු වේ.

(ලකුණු 02 යි)

(ඉ) - ආර්ථිකයක නිෂ්පාදනය කරනු ලබන සියලුම අවසාන භාණ්ඩ හා සේවාවන්ගේ මිල මට්ටම මිනුම් කිරීමට යොදාගැනෙන මිනුමක් වශයෙන් දළ දේශීය නිෂ්පාදිතයේ අවධමනකය සැලකිය හැකිය.

- එය ගණනය කෙරෙනුයේ පවත්නා මිල යටතේ ගණනය කරන ලද දළ දේශීය නිෂ්පාදිතයේ අගයත් ස්ථාවර මිල යටතේ ගණනය කරන ලද දළ දේශීය නිෂ්පාදිතයේ අගයත් අතර අනුපාතයක් වශයෙනි. එය 100 න් ගුණ කිරීමෙන් දර්ශකයක් ලෙස ප්‍රකාශ කෙරේ.

- $$\text{ද.දේ.නි. අවධමනකය} = \frac{\text{වර්තන මිල යටතේ ද.දේ. නි.}}{\text{ස්ථාවර මිල යටතේ ද.දේ.නි.}} \times 100$$

(ලකුණු 02 යි)

(ඊ) - ජාතික ගිණුම්කරණයේ දී නිෂ්පාදනය නොකළ මූල්‍ය නොවන වත්කම් වශයෙන් ගැනෙනුයේ රටක නිෂ්පාදන ඉම තුළ නිෂ්පාදනය නොවූ එහෙත් භාණ්ඩ හා සේවා නිෂ්පාදනය සඳහා යොදා ගතහැකි වත්කම්ය.

- දේශීය ප්‍රාග්ධන තොගයේ සංරචකයක් වන මෙම වත්කම් ගණයට ඇතුළත් වනුයේ
  - ස්වාභාවික සම්පත් (උදා: භූමිය ඛනිජ සහ බලශක්ති සංචිත, වගා නොකරන ලද ජෛව සම්පත්, වනාන්තර, රේඩියෝ තරංග)
  - ගිවිසුම්, බදුකර, ස්වාධිකාර සහ බලපත්‍ර
  - කීර්තිනාමය, වෙළෙඳනාම, සන්නම් යනාදිය

(ලකුණු 02 යි)

**මත ප්‍රශ්නය**

(i) පෙළැඹුණු පරිභෝජනය සහ ස්වායත්ත පරිභෝජනය අතර වෙනස දක්වන්න. (ලකුණු 04යි)

(ii) කිසියම් ආර්ථිකයක් පිළිබඳ පහත දැක්වෙන සාර්ව ආර්ථික දත්ත සැලකිල්ලට ගන්න.

$C = 60 + 0.8\,Y_D$ $I = 100$ $G = 200$ $T = 150$ $Tr = 75$

$Y_D$ = වැය කළ හැකි ජාතික ආදායම
$C$ = පරිභෝජනය
$I$ = ආයෝජනය
$G$ = ආණ්ඩුවේ මිල දී ගැනීම්
$T$ = බදු අය කිරීම
$Tr$ = සංක්‍රාම

(අ) මෙම ආර්ථිකයේ ඉකුරුම් ශ්‍රිතය කුමක් ද? (ලකුණු 02යි)

(ආ) වැය කළ හැකි ජාතික ආදායම ($Y_D$) = 500ක් වේ නම්, සාමාන්‍ය පරිභෝජන නැමියාව සහ සාමාන්‍ය ඉතුරුම් නැමියාව ගණනය කරන්න. (ලකුණු 04යි)

(ඉ) සමතුලිත ජාතික ආදායම් මට්ටම කොපමණ ද? (ලකුණු 04යි)

(ඊ) ආයෝජන ගුණකයේ අගය කොපමණ ද? (ලකුණු 02යි)

(iii) කිසියම් කල්පිත ආර්ථිකයක, ආණ්ඩුවේ මිල දී ගැනීම් (G) රුපියල් බිලියන 400ක් ද, බදු අයකිරීම් (T) රුපියල් බිලියන 300ක් ද, පෞද්ගලික ඉතුරුම් (S) රුපියල් බිලියන 200ක් ද, පෞද්ගලික ආයෝජන (I) රුපියල් බිලියන 250ක් ද වේ යැයි උපකල්පනය කරන්න. මෙම ආර්ථිකයේ ශුද්ධ අපනයනවල අගය කොපමණ වේ ද? (ලකුණු 04යි)

05. (i) - ආදායම් මට්ටම මත රඳා නොපවත්නා පරිභෝජන මට්ටම, ස්වායත්ත පරිභෝජනය වේ. මෙය තම ජීවිතය පවත්වාගැනීම සඳහා කිසියම් පුද්ගලයෙකුට අවශ්‍ය කරන අවම පරිභෝජන මට්ටමයි. වර්තමාන ආදායම ශූන්‍ය අගයක් ගත්ත ද ජීවිතය රඳවා ගැනීම සඳහා මෙම අවම පරිභෝජන ප්‍රමාණය කළ යුතුවේ.

- පරිභෝජන ශ්‍රිතය පෙන්නුම් කෙරෙන ප්‍රස්තාර සටහනක, පරිභෝජන ශ්‍රිතය සිරස් අක්ෂය සමග සම්මුඛ වන ලක්ෂ්‍යය හෙවත් පරිභෝජන ශ්‍රිතයේ අන්තඃඛණ්ඩය නිරූපණය කරනුයේ ස්වායත්ත පරිභෝජන මට්ටමය.

(ලකුණු 02 යි)

- පරිභෝජන වියදම් වැයකළ හැකි ආදායමේ අනුලෝම ශ්‍රිතයකි. වැය කළ හැකි ආදායම වෙනස් වන විට පරිභෝජන වියදම ද අනුලෝම වශයෙන් වෙනස් වේ. හුදෙක් ආදායමේ වෙනස් වීම මත වෙනස්වන පරිභෝජන වියදමේ ප්‍රමාණය පෙළැඹුණු පුද්ගලයෙකුගේ සැබෑ පරිභෝජනය ලෙස හැඳින්වේ. පරිභෝජන වියදමෙන් සවායත්ත පරිභෝජනයේ ප්‍රමාණය අඩු කළ විට ශේෂවන්නේ, පෙළැඹුණු පරිභෝජනයයි. උදාහරණයක් වශයෙන් මුළු පරිභෝජනය රුපියල් 2000ක් සහ ස්වායත්ත පරිභෝජනය රුපියල් 800ක් නම්, පෙළැඹුණු පරිභෝජනය රපියල් 1200 කි.

(ලකුණු 02 යි)

(ii) (අ) - ඉතුරුම් ශ්‍රිතය $(S) = -60 + 0.2\,Y_D$ (ලකුණු 02 යි)

(ආ) - සාමාන්‍ය පරිභෝජන නැමියාව $(APC) = \dfrac{C}{Y_D}$

$Y_D = 500$ නම්, $C = 60 + 0.8\,(500) = 460$ (ලකුණු 01 යි)

$APC = \dfrac{460}{500} = 0.92$ (ලකුණු 01 යි)

- සාමාන්‍ය ඉතුරුම් නැමියාව $(APS) = \dfrac{S}{Y_D}$

$Y_D = 500$ නම්, $S = -60 + 0.2\,(500) = 40$ (ලකුණු 01 යි)

$(APS) = \dfrac{40}{500} = 0.08$ (ලකුණු 01 යි)

(ඉ) - **සමතුලිත ජාතිකය ආදායම් මට්ටම:**

$$Y = C+I+G$$

$$Y = 60+08\,Y_D+100+200$$ (ලකුණු 01 යි)

$$Y = 60+0.8(Y-T+Tr)+300$$

$$Y = 60+0.8(Y-150+75)+300$$

$$Y = 360+0.8(Y-150+75)$$ (ලකුණු 01 යි)

$$Y = 360+0.8Y-120+60$$

$$Y = 360+0.8Y$$

$$Y-0.8Y = 300;\ 0.2Y=300;\ Y=1500$$ (ලකුණු 02 යි)

(ඊ) - ආයෝජන ගුණකය $(K) = \frac{1}{1-MPC} = \frac{1}{1-0.8} = \frac{1}{0.2} = 5$ (ලකුණු 02 යි)

(iii) - **ශුද්ධ අපනයන ප්‍රමාණය**

$$S+T+M = J+G+X$$

$$S+T-(I+G) = X-M \ (= \text{ශුද්ධ අපනයනය})$$

$$200+300-(250+400) = (X-M)$$

$$500-650 = (X-M)$$

$$150 = (X-M)$$ (ලකුණු 04 යි)

**[විකල්ප පිළිතුර:**

දළ දේශීය ඉතුරුම් $(S_D) = I+(X-M)$

$$S_D = S_P+S_G = I+(X-M)$$

$$200+(T-G) = 250+(X-M)$$

$$200+(300-400) = 250+(X-M)$$

$$200+(-100)-250 = (X-M)$$

$$-150 = (X-M)\ ]$$

## 06 වන ප්‍රශ්නය

**'ආ' උප කොටස**

(මෙම කොටසෙන් ද අවම වශයෙන් ප්‍රශ්න **දෙකක්** තෝරා ගන්න.)

**6.** (i) ශ්‍රී ලංකාවේ පොදු මිල මට්ටමෙහි වෙනස්කම් දැක්වීමෙහි ලා වර්තමානයේ යොදා ගැනෙන මිනුම් කවරේ ද? (ලකුණු 03යි)

(ii) උද්ධමනයේ අහිතකර ප්‍රතිවිපාක කවරේ ද? (ලකුණු 04යි)

(iii) කිසියම් රටක වාණිජ බැංකු පද්ධතිය තුළ කටයුතු කරන එක් වාණිජ බැංකුවක සරල ශේෂ පත්‍රයක් පහත දැක්වේ.

| වගකීම් | වටිනාකම (රුපියල් මිලියන) | වත්කම් | වටිනාකම (රුපියල් මිලියන) |
|---|---|---|---|
| තැන්පතු | 100 000 | අවශ්‍ය කරන සංචිතය | 10 000 |
| කොටස් හිමියන්ගේ ප්‍රාග්ධනය | 25 000 | අධි සංචිත | 5 000 |
| | | සුරැකුම්පත් | 30 000 |
| | | ණය | 80 000 |
| **මුළු වගකීම්** | **125 000** | **මුළු වත්කම්** | **125 000** |

(අ) අවශ්‍ය කරන සංචිත අනුපාතය කොපමණ ද? (ලකුණු 02යි)

(ආ) මෙම බැංකුවේ ගනුදෙනුකරුවෙකු තම ජංගම ගිණුමෙන් රුපියල් මිලියන 2 000ක් ආපසු ගනු ලැබේ යැයි සලකන්න. මෙම මුදල් ඉවත් කර ගැනීම නිසා, බැංකුවේ සංචිතය කොපමණ ප්‍රමාණයකින් වෙනස් වන්නේ ද? (ලකුණු 02යි)

(ඉ) අවශ්‍ය කරන සංචිත අනුපාතය නොවෙනස්ව පවතී නම්, රුපියල් මිලියන 2 000ක තැන්පතු ප්‍රමාණය ඉවත් කරගත් විට, මෙම බැංකුවට අලුතින් ලබා දිය හැකි උපරිම ණය ප්‍රමාණය කොපමණ වේ ද? (ලකුණු 02යි)

(iv) මූල්‍ය ප්‍රතිපත්තිය යන්නෙන් කවරක් අදහස් වේ ද? (ලකුණු 03යි)

(v) ශ්‍රී ලංකා මහ බැංකුවේ ප්‍රමාණාත්මක සහ ගුණාත්මක ණය පාලන ක්‍රම අතර වෙනස පෙන්වා දෙන්න. (ලකුණු 04යි)

06. (i)
- කොළඹ පාරිභෝගික මිල දර්ශකය
- ජාතික පාරිභෝගික මිල දර්ශකය
- දළ දේශීය නිෂ්පාදිතයේ අවධමනකය
- නිෂ්පාදකයාගේ මිල දර්ශකය

**(එක් මිල දර්ශකයට ලකුණු 01 බැගින්**
**ඕනෑම මිල දර්ශක තුනකට ලකුණු 03 යි)**

(ii)
- ජීවන වියදම ඉහළ යාම නිසා සාමාන්‍ය ජනතාවගේ ජීවන තත්ත්වය පහළ වැටේ.
- නිරපේක්ෂ දරිද්‍රතාව ඉහළ නගී.
- ආදායම් ව්‍යාප්තිය අසාධාරණ කෙරේ : විශ්‍රාම වැටුප් මත යැපෙන සමාජයේ දුබල කොටස් උද්ධමනයෙන් පීඩනයට පත්වන අතර වඩා ශක්තිමත් කේවෙල් කිරීමේ ශක්තිය වැඩි අය වැඩි ප්‍රතිලාභ හිමි කරගනී.
- ආර්ථික තීරණ ගැනීමේ ක්‍රියාවලිය උද්ධමනය විසින් විකෘති කෙරේ.
- ණය දෙන්නන්ට සහ ණය හිමියන්ට උද්ධමනයකදී අවාසි සැලසෙන අතර, ණය ගනුවන්ට වාසි සැලසේ. මේ අනුව ණය හිමියන් වෙතින් ණය ගැතියන් කරා ආදායම් පුනර්ව්‍යාප්තියක් ඇති කරයි.
- විනිමය අනුපාතිකය අධිතක්සේරුවීම නිසා වෙළෙඳ ශේෂය කෙරෙහි අයහපත් බලපෑමක් ඇති විය හැකිය.
- අපනයන තරගකාරිත්වය දුර්වලවේ.
- වෘත්තීය සමිති ක්‍රියාකාරකම් නිසා ආර්ථික කටයුතු අඩපණ විය හැකිය.
- අනාගත මිල හැසිරීම පිළිබඳ පවත්නා දැඩි අවිනිශ්චිත බව නිසා දිගුකාලීන ආයෝජන සඳහා යොමු නොවී, තම අරමුදල් කෙටිකාලීන වාසි ලබාගත හැකි ක්ෂේත්‍රවලට යොමුකළ හැකිය.
- සපත්තු සම් පිරිවැය සහ මෙනුපත් පිරිවැය.

**(එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි)**

(iii) (අ) - අවශ්‍යකරන සංචිත අනුපාතය $= \dfrac{\text{අවශ්‍යකරන සංචිතය}}{\text{මුළු තැන්පතු}}$

$= \dfrac{10,000}{100,000} = 10\%$ (ලකුණු 02 යි)

(ආ) - **සංචිත ප්‍රමාණයේ වෙනස් වීම.**

තැන්පතු ඉවත් කරගැනීමට පෙර මුළු සංචිත = 15000

තැන්පතු ඉවත් කරගත් පසු සංචිත ප්‍රමාණය = 13000

සංචිත වෙනස්වීම = 2000 (ලකුණු 02 යි)

(ඉ) - **උපරිම ණය ප්‍රමාණය :**

**ලබාදිය හැකි උපරිම ණය ප්‍රමාණය අධි සංචිත ප්‍රමාණයට සමාන වේ.**

පවත්නා සංචිතයේ ප්‍රමාණය :

= 10000 + 5000 - 2000

= 13000

අවශ්‍යකරන සංචිතයේ ප්‍රමාණය = 98000 x 10%

= 9,800

අධි සංචිතයේ ප්‍රමාණය = 13000 - 9800

= 3200 (ලකුණු 02 යි)

(iv) - සාර්ව ආර්ථික අරමුණු සාක්ෂාත් කරගනු පිණිස මුදලේ සුලබතාව (මුදල් සැපයුම සහ ණය සැපයුම) සහ මුදලේ මිල (පොලී අනුපාතිකය) පාලනය කරමින් සමාහාර ඉල්ලුම කෙරෙහි බලපෑම මූල්‍ය ප්‍රතිපත්තිය වේ.

- මූල්‍ය ප්‍රතිපත්තිය මෙහෙයවනු ලබන්නේ රටක මහ බැංකුව විසිනි.

(ලකුණු 03 යි)

(විකල්ප පිළිතුර:

- සාර්ව ආර්ථික අරමුණක් වන මිල ස්ථායිතාව අත් කරගැනීම පිණිස මහා බැංකුව විසින් මුදලේ සැපයුම සහ එහි මිල පාලනය කිරීමේ ක්‍රියාවලිය මූල්‍ය ප්‍රතිපත්තිය වේ.

- ශ්‍රී ලංකාවේ මූල්‍ය ප්‍රතිපත්තිය ක්‍රියාවේ යෙදවීම ශ්‍රී ලංකා මහ බැංකුවේ වගකීමක් වේ. එහිලා මහා බැංකුව ප්‍රධාන වශයෙන් නිරත වී සිටිනුයේ ප්‍රතිපත්ති පොලී අනුපාතික තීරණය කිරීමට සහ ආර්ථිකයේ ද්‍රවශීලතාව කළමනාකරණය කිරීමටය.

(v) - සමස්ත ආර්ථිකයේ ණය පරිමාව සහ ණයෙහි පිරිවැය පාලනය කිරීම සඳහා යොදාගැනෙන ණය පාලන ක්‍රම, ප්‍රමාණාත්මක ණය පාලන ක්‍රම ලෙස දැක්වේ. එම ණය පාලන ක්‍රම ආර්ථිකයේ එක් එක් අංශ කෙරෙහි විශේෂත්වයක් නොදක්වන අතර පොදුවේ සමස්ත ආර්ථිකයම ඒවායේ බලපෑමට යටත්වේ.

- ප්‍රතිපත්ති පොලී අනුපාතික (උදා: නිත්‍ය තැන්පතු පහසුකම් අනුපාතිකය, නිත්‍ය ණය පහසුකම් අනුපාතිකය සහ බැංකු අනුපාතිකය), විවෘත වෙළෙඳපොළ කටයුතු සහ ව්‍යවස්ථාපිත සංචිත අවශ්‍යතා නියම කිරීම ප්‍රමාණාත්මක ණය පාලන ක්‍රම වේ.

(ලකුණු 02 යි)

- ආර්ථිකයේ තෝරාගත් ක්ෂේත්‍රයන් තුළ ණය ගලා යාම සහ ඒවායේ දිශානතිය හැසිරවීම ගුණාත්මක ණය පාලනය මගින් සිදුවේ. එම පාලන ක්‍රම පොදු බලපෑමක් ඇතිකරන ඒවා නොව, විශේෂ වශයෙන් තෝරාගත් අංශ මත පමණක් බලපෑම් ඇති කරයි.

- ණය පිළිබඳ ප්‍රමාණාත්මක සීමා කිරීම, පොලී අනුපාතික පිළිබඳ සීමාවන් නියම කිරීම, ප්‍රති මූල්‍ය පහසුකම් සැපයීම, ආන්තික අවශ්‍යතා නියම කිරීම, යහ පෙළඹවීම වැනි දෑ ගුණාත්මක ණය පාලන ක්‍රම වේ.

(ලකුණු 02 යි)

**07 වන ප්‍රශ්නය**

7. (i) පහත දැක්වෙන දෑ පෞද්ගලික භාණ්ඩ ද, පොදු භාණ්ඩ ද නැතහොත් පොදු සම්පත් ද යන්න නිර්ණය කරන්න.
   (අ) සාගරයේ සිටින මත්ස්‍යයින්
   (ආ) රූපවාහිනී විකාශන සංඥා
   (ඉ) ජීවන රටාව හා කොලෙස්ටරෝල් මට්ටම පිළිබඳ කෙරෙන මූලික පර්යේෂණ
   (ඊ) ස්වාධිකාර බලපත්‍රයක් (patent) හිමිකර ගත හැකි, කොලෙස්ටරෝල් මට්ටම පහළ හෙළීමේ ඖෂධයක් සඳහා සිදු කෙරෙන විශේෂ පර්යේෂණයක් (ලකුණු 04යි)

(ii) නිදහස් වෙළෙඳපොළ ආර්ථිකයක් තුළ ආණ්ඩුවේ මැදිහත්වීම ඔබ සාධාරණය කරනුයේ කෙසේ ද? (ලකුණු 04යි)

(iii) බදු අය කිරීමේ සිරස් සාධාරණත්වය සහ තිරස් සාධාරණත්වය අතර වෙනස පෙන්වා දෙන්න. (ලකුණු 04යි)

(iv) අයවැය හිඟයන් වෙළෙඳපොළ පොලී අනුපාතිකය ඉහළ යාමටත්, පෞද්ගලික ආයෝජන පහළ යාමටත් දායක වන්නේ යැයි ඇතැම් ආර්ථික විද්‍යාඥයින් තර්ක කරනුයේ ඇයි? (ලකුණු 04යි)

(v) "කලාපයේ අන් රටවල් සමග සංසන්දනය කරන විට, ශ්‍රී ලංකාවේ රාජ්‍ය ණය හා දළ දේශීය නිෂ්පාදිතය අතර අනුපාතය තවමත් ඉහළ අගයක පවතී." රාජ්‍ය ණය, මැදි හා දිගු කාලීනව තිරසාර මට්ටමක පවත්වා ගැනීම සහතික කිරීම වස්, රජය විසින් ගෙන ඇති ක්‍රියාමාර්ග කෙටියෙන් සඳහන් කරන්න. (ලකුණු 04යි)

07. (i) (අ) සාගරයේ සිටින මත්ස්‍යයින් - පොදු සම්පත්

(ආ) රූපවාහිනී විකාශන සංඥා - පොදු භාණ්ඩ

(ඉ) ජීවන රටාව හා කොලෙස්ටරෝල් මට්ටම පිළිබඳ මූලික පර්යේෂණ - පොදු භාණ්ඩ

(ඊ) ස්වාධිකාර බලපත්‍රයක් හිමි කරගත හැකි ඖෂධ සඳහා සිදු කෙරෙන පර්යේෂණ - පෞද්ගලික භාණ්ඩ

(එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි)

(ii) **වෙළෙඳපොළ ආර්ථිකයක් තුළ ආණ්ඩුවේ මැදිහත් වීම:**

- වෙළෙඳපොළ ආර්ථිකයේ කාර්යක්ෂමතාව සඳහා අවශ්‍ය කෙරෙන නෛතික රාමුව ස්ථාපිත කිරීම, විශේෂයෙන් පෞද්ගලික දේපොළ සුරක්ෂිත කිරීමට අදාළ නීති හා ගිවිසුම් සම්පාදනය සහ බලගැන්වීම.

- වෙළෙඳපොළ අසමත්වීම් කෙරෙහි බලපාන හේතු (බාහිරතා, ශුභසාධන භාණ්ඩ, පොදු භාණ්ඩ, ඒකාධිකාරය) ඉවත් කරමින් සම්පත් බෙදීයාමේ කාර්යක්ෂමතාව ඉහළ නැංවීම.

- සාධාරණ ආදායම් ව්‍යාප්තියක් ඇති කිරීම

- සාර්ව ආර්ථික ස්ථායිතාව තහවුරු කිරීම

- ආර්ථික වර්ධනය හා සංවර්ධනය ඉහළ නැංවීම

- යටිතල පහසුකම් සංවර්ධනය

- පරිසරය ආරක්ෂා කිරීම සහ නියාමනය

(එක් කරුණකට ලකුණු 01 බැගින්
ඕනෑම කරුණු හතරකට ලකුණු 04 යි)

(iii) - බදු අය කිරීමේදී සමාන ආර්ථික තත්ත්වයක සිටින පුද්ගලයන් මත සමාන බදු බරක් ඇති කිරීමෙන් සාධාරණත්වයක් ඇති වේ. "සමාන අයට සමාන ලෙස සැලකීමේ" මෙම මූලධර්මය තිරස් සාධාරණත්වය නමින් හැඳින්වේ.

(ලකුණු 02 යි)

- ආර්ථික තත්ත්වයෙන් අසමාන වූ ගෙවීමට ඇති හැකියාව වෙනස් පුද්ගලයන් මත, බදු බර අසමාන ලෙස පතිත කිරීම සාධාරණත්වය සඳහා අවශ්‍ය කෙරේ යන්න සිරස් සාධාරණත්ව මූල ධර්මයෙන් ප්‍රකාශ කෙරේ.

(ලකුණු 02 යි)

(iv) - අයවැය හිඟයන් රාජ්‍ය ඉතුරුම් පහළ හෙළීමට හේතුවේ. රාජ්‍ය ඉතුරුම් යනු රාජ්‍ය අයභාරය සහ රාජ්‍ය වර්තන වියදම් අතර පරතරයයි. පෞද්ගලික ඉතුරුම් නොවෙනස්ව තිබිය දී රාජ්‍ය ඉතුරුම් පහළ වැටීම ජාතික ඉතුරුම් පහළයාමට හේතුවේ. ණය අරමුදල් වෙළෙඳපොළ මත මෙම වෙනස්කම් පතිත වේ. ඉතුරුම් සැපයුම අඩු වීමේ ප්‍රතිඵල වශයෙන් මූර්ත පොලී අනුපාතික ඉහළ යන අතර, පෞද්ගලික ආයෝජනය පහළ වැටේ.

- අයවැය හිඟය මූල්‍යනය කිරීම සඳහා ආණ්ඩුව අරමුදල් වෙළෙඳපොළෙන් ණය ලබා ගැනීම නිසා ඉතුරුම් මත ඇති කෙරෙන පීඩනය වැඩිවේ. සීමිත අරමුදල් සඳහා රජය සමග තරග කිරීමට පෞද්ගලික ආයෝජකයන්ට සිදුවේ. මෙහි සමස්ත ප්‍රතිඵලය වනුයේ මූර්ත පොලී අනුපාතික ඉහළ යාමත් ආයෝජනය ආකර්ශණීය නොවීමත් ය. අයවැය හිඟය පියවීම සඳහා ආණ්ඩුව දේශීය ඉතුරුම් යොදා ගැනීමෙන් පෞද්ගලික ආයෝජනය මත ඇති කෙරෙන අයහපත් ප්‍රතිඵල 'තෙරපුම් ප්‍රතිවිපාකය' (Crowdin-out effect) නමින් හැඳින්වේ.

(ලකුණු 04 යි)

(v) - රජයේ මැදි කාලීන අරමුණක් වශයෙන් මධ්‍යම රජයේ සමස්ත අයවැය හිඟය 2020 වන විට අවම වශයෙන් 3.5% ක් දක්වා අඩු කිරීමටත්, මධ්‍යම රජයේ ණය, දළ දේශීය නිෂ්පාදිතයේ ප්‍රතිශතයක් ලෙස 70% දක්වා අඩු කිරීමටත් ඉලක්ක තියම කොට ඇත.

- නිවැරදි බදු ප්‍රතිපත්ති ක්‍රියාත්මක කිරීමට සහ බදු පරිපාලනය ශක්තිමත් කිරීමට සහාය දීම සඳහා ක්ෂේත්‍ර කීපයක් කේන්ද්‍ර කරගනිමින් රජය විසින් පසුගිය අවුරුදු කීපය තුළ පියවර රැසක් ගනු ලැබීය. එම ක්ෂේත්‍ර වනුයේ (අ) බදු පදනම පුළුල් කිරීම, (ආ) බදු පද්ධතිය තාර්කීකරණය කිරීම, (ඇ) ආදායම් පරිපාලන හැකියාවන් වැඩි දියුණු කිරීම සහ (ඈ) රාජ්‍ය මූල්‍ය කළමනාකරණය ශක්තිමත් කිරීම යනාදියයි.

- රාජ්‍ය වියදම් තාර්කීකරණය කිරීම සහ රජය සතු වාණිජ ව්‍යවසායන්ගෙන් මගින් ඇති විය හැකි රාජ්‍ය මූල්‍ය අවදානම් අවම කිරීම සඳහාද අවධානය යොමු කොට ඇත.

- වාණිජමය ලෙස ලාභදායි මෙහෙයුම් ඇති කිරීමට හැකිවන පරිදි රජය සතු වාණිජ ව්‍යවසායන් ප්‍රතිසංස්කරණය කිරීම සඳහා යොමුවීම.

- 2016 නොවැම්බර් මාසයේ දී සංශෝධිත එකතු කළ අගය මත බදු (VAT) පනත බලාත්මක කොට එමගින් බදු පදනම පුළුල් කිරීම, බදු අනුපාත ඉහළ නැංවීම සහ බදු නිදහස් කිරීම අඩු කිරීම

- දේශීය ආදායම් පනත නැවත කෙටුම්පත් කිරීම මගින් ආදායම් බදු රෙගුලාසි සංශෝධනය කිරීම.

- බදු සහන ප්‍රදානය කිරීමට ආයෝජන මණ්ඩලයට පැවැති හැකියාව සීමා කරමින් ආයෝජන මණ්ඩල පනත සංශෝධනය කිරීම.

- ආදායම් බදු සහ එකතු කළ අගය මත බදු සඳහා අන්තර්ජාලය ඔස්සේ බදු වාර්තා පියවීමද ඇතුළත් ප්‍රධාන දේශීය බදු වර්ග කීපයකට අදාළව නව තොරතුරු තාක්ෂණික පද්ධතියක් (RAMIS) හඳුන්වාදීම.

**(එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 04 යි)**

## 08 වන ප්‍රශ්නය

8. (i) A රට උරුම කරගත් ශ්‍රම සම්පත් ප්‍රමාණය ඒකක 200ක් ද, B රට උරුම කරගත් ශ්‍රම සම්පත් ප්‍රමාණය ඒකක 200ක් ද වේ යැයි සලකන්න. එක් එක් රටෙහි X සහ Y යන භාණ්ඩ ඒකකයක් නිෂ්පාදනය කිරීම සඳහා අවශ්‍ය කරන ශ්‍රම ඒකක ප්‍රමාණ පහත සඳහන් වගුවේ දැක්වේ.

| A රට | | B රට | |
|---|---|---|---|
| භාණ්ඩය | ශ්‍රම ඒකක | භාණ්ඩය | ශ්‍රම ඒකක |
| X | 5 | X | 4 |
| Y | 4 | Y | 8 |

(අ) එක් එක් රට සඳහා නිෂ්පාදන හැකියා වක්‍ර වෙන් වෙන්ව ඇඳ, ඒවා නිවැරදිව නම් කරන්න. (ලකුණු 04යි)

(ආ) එක් එක් රටට කවර භාණ්ඩයක් සඳහා නිරපේක්ෂ වාසි තිබේ ද? පිළිතුර පැහැදිලි කරන්න. (ලකුණු 02යි)

(ඇ) එක් එක් රටට කවර භාණ්ඩයක් සඳහා සාපේක්ෂ වාසි තිබේ ද? පිළිතුර පැහැදිලි කරන්න. (ලකුණු 02යි)

(ii) සාපේක්ෂ වාසි බිහි කෙරෙන ඕනෑම මූලාශ්‍ර **දෙකක්** සඳහන් කරන්න. (ලකුණු 02යි)

(iii) ගෙවුම් ශේෂ ලේඛනයක ජංගම ගිණුමෙහි ප්‍රධාන සංරචක නම් කරන්න. (ලකුණු 02යි)

(iv) නාමික විනිමය අනුපාතිකය සහ සැබෑ විනිමය අනුපාතිකය අතර වෙනස දක්වන්න. (ලකුණු 04යි)

(v) නිදහස් වෙළෙඳාමට පක්ෂව ඉදිරිපත් කෙරෙන තර්ක මොනවා ද? (ලකුණු 04යි)

08. (i) (අ)




**(ලකුණු 02 යි)**




**(ලකුණු 02 යි)**

(ආ) - A රටට Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ දී නිරපේක්ෂ වාසියක් පවතී. මක් නිසාදයත් Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ නිරපේක්ෂ පිරිවැය B රටට වඩා A රටෙහි අඩුය.

**(ලකුණු 01 යි)**

- B රටට X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේදී නිරපේක්ෂ වාසියක් පවතී. මක් නිසාද යත් X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ නිරපේක්ෂ පිරිවැය A රටට වඩා B රටෙහි අඩුය.

**(ලකුණු 01 යි)**

(ඉ) A රටට Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ දී සාපේක්ෂ වාසියක් පවතී. මක්නිසාදයත් A රටෙහි Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය B රටට වඩා අඩුය.

A රටෙහි X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය $= \frac{5}{4} = 1.25$

A රටෙහි Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය $= \frac{4}{5} = 0.8$

**(ලකුණු 01 යි)**

B රටට X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ දී සාපේක්ෂ වාසියක් පවතී. මක්නිසාද යත් B රටෙහි X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය A රටට වඩා අඩුය.

B රටෙහි X භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය $\} = \frac{4}{8} = 0.5$

B රටෙහි Y භාණ්ඩය නිෂ්පාදනය කිරීමේ ආවස්ථික පිරිවැය $\} = \frac{8}{4} = 2.0$

(ii) සාපේක්ෂ වාසි මූලාශ්‍ර:
- සම්පත් උරුමය
- තාක්ෂණය
- විශේෂ ප්‍රාගුණ්‍යතාය (ශ්‍රම ඵලදායිතාව)
- අභිරුචිය
- ස්ථානගත වීම (පිහිටීම)
- ආරම්භක තත්වය (first mover advantage)
- පරිමාණානුකූල ඵල
- රටවල විශාලත්වයේ වෙනස්කම්
- පර්යේෂණ හා සංවර්ධනය සඳහා කෙරෙන ආයෝජන
- රාජ්‍ය ප්‍රතිපත්ති

(එක් කරුණකට ලකුණු 01 බැගින්
ඕනෑම කරුණු දෙකකට ලකුණු 02 යි)

(iii) ජංගම ගිණුමේ ප්‍රධාන සංරචක
- භාණ්ඩ හා සේවා ගිණුම
- ප්‍රාථමික ආදායම් ගිණුම
- ද්විතියික ආදායම් ගිණුම

(ලකුණු 02 යි)
(සංරචක තුනම දක්වා නොමැතිනම් ලකුණු නොලැබේ)

(iv) - එක් මුදල් වර්ගයක මිල තවත් මුදල් වර්ගයකින් ප්‍රකාශ කිරීම නාමික විනිමය අනුපාතිකය වේ.

(ලකුණු 01 යි)

- නාමික විනිමය අනුපාතිකය දෙයාකාරයකින් ප්‍රකාශ කෙරේ.
  (අ) විදේශ මුදල් ඒකකයක මිල දේශීය මුදල් ඒකකවලින් දැක්වීම (ඍජු කියවීම)

  (ආ) දේශීය මුදල් ඒකකයක මිල විදේශ මුදල් ඒකකවලින් දැක්වීම (වක්‍ර කියවීම)

(ලකුණු 01 යි)

- සඵල විනිමය අනුපාතිකය යනු කිසියම් මුදල් ඒකකයක අගය තවත් මුදල් වර්ග රාශියක බරතබන ලද සාමාන්‍ය අගයකට සාපේක්ෂව ප්‍රකාශ කිරීමය. එය ප්‍රකාශ කරනුයේ දර්ශක අංකයක් වශයෙනි. බර තැබීම සඳහා යොදා ගැනෙන මුදල් ඒකක සමන්විත වනුයේ, සලකා බලන රටෙහි වෙළඳහවුල්කාරී සහ වෙළෙඳ තරගකාරී රටවල මුදල් ඒකකවලිනි.

(ලකුණු 01 යි)

- සඵල විනිමය අනුපාතිකයන්ගේ ස්වරූප දෙකකි එනම් නාමික සඵල විනිමය අනුපාතිකය සහ මූර්ත සඵල විනිමය අනුපාතිකය වශයෙනි.

(ලකුණු 01 යි)

(v) නිදහස් වෙළෙඳාමට පක්ෂව නැගෙන තර්ක
- නිෂ්පාදනයේ කාර්යක්ෂමතාව ඉහළ නගී. විදේශිය තරගයට මුහුණ දීම නිසා දේශීය නිෂ්පාදන ආයතන පිරිවැය අඩු කරගැනීමට සහ කාර්යක්ෂමතාව වැඩි කර ගැනීමට උත්සාහ කරයි.

- විශේෂ ප්‍රාගුණ්‍යනය කිරීමට අවස්ථාව සැලසේ. එමගින් ඵලදායිතාව ඉහළ නංවාගත හැකිවේ.

- විශේෂීකරණය නිසා පාරිභෝගිකයන්ට අඩු මිලට භාණ්ඩ මිලදී ගැනීමට අවස්ථාව සැලැසේ.

- තාක්ෂණය හුවමාරු කරගැනීමට ඉඩ ලැබේ.

- විවෘත වෙළෙඳාම නිසා රටවල ආර්ථික වෘද්ධිය වේගවත්වී ඇති බවට ප්‍රත්‍යමූල සාක්ෂි ඇත. ප්‍රතිශීර්ෂ ආදායම ඉහළ නංවාගැනීමට හා නිරපේක්ෂ දරිද්‍රතාව අඩුකරගැනීමට එය ඉවහල් වේ.

- අබාධ වෙළෙඳාම නිසා වෙළෙඳාමට සහභාගීවන දෙපාර්ශ්වයටම අන්‍යෝන්‍ය වශයෙන් ප්‍රතිලාභ ලබා ගැනීමට හැකි වේ.

- අබාධ වෙළෙඳ ප්‍රතිපත්ති නිසා ගෝලීය වෙළෙඳපොළෙහි තරගකාරීත්වයක් බිහි කොට තිබෙන බැවින්, එහි ප්‍රතිඵල වශයෙන් ගුණාත්මක තත්ත්වයෙන් උසස් නවෝත්පාදන ලබා ගත හැකි වන අතර, ඉහළ වැටුප් සහිත රැකියා, අළුත් වෙළෙඳපොළවල්, ඉතුරුම් හා ආයොජන ඉහළ යාම් දක්නට ලැබේ.

- තම රටවල නිපදවාගත නොහැකි භාණ්ඩ, අත්කර ගැනීමට අබාධ වෙළෙඳාම නිසා සෑම රටකටම අවස්ථාව උදාවේ.

- සාපේක්ෂ පිරිවැය පදනම් කරගත් වෙළෙඳාම කරනකොට, සමස්ත නිෂ්පාදන ප්‍රමාණයත් පරිභෝජන ප්‍රමාණයත් ඉහළ යනු ලැබේ.

- ජාත්‍යන්තර වෙළෙඳාම නිසා, අළුත් අදහස් සහ සංකල්ප (නව්‍යතා, බුද්ධිමය දේපොළ) ගෝලීය වශයෙන් විකාශනය වේ.

(එක් කරුණකට ලකුණු 01 බැගින්
ඕනෑම කරුණු හතරකට ලකුණු 04 යි)

## 9 වන ප්‍රශ්නය

(i) 'ආර්ථික වෘද්ධිය' නිර්වචනය කොට, ආර්ථික වෘද්ධියේ ඉතා වැදගත් මූලාශ්‍ර සඳහන් කරන්න. (ලකුණු 05යි)

(ii) දිළිඳුකම තුරන් කිරීම සඳහා ආර්ථික වෘද්ධිය ප්‍රමාණවත් කොන්දේසියක් වේ ද? පිළිතුර පැහැදිලි කරන්න. (ලකුණු 05යි)

(iii) 'තිරසාර සංවර්ධනය' යන්නෙන් ඔබ අදහස් කරන්නේ කුමක් ද? (ලකුණු 05යි)

(iv) ස්ත්‍රී ශ්‍රම හමුදා සහභාගිත්වය ඉහළ යාම, ශ්‍රී ලංකාව සම්බන්ධයෙන් වැදගත් වන්නේ ඇයි? පිළිතුර පැහැදිලි කරන්න. (ලකුණු 05යි)

(i) - ආර්ථික වෘද්ධිය යනු රටක නිෂ්පාදන ධාරිතාව හෙවත් විභව නිමැවුම ඉහළයාමක් වන අතර, කාලයක් තිස්සේ මූර්ත ජාතික නිෂ්පාදිතයේ සහ ආදායමේ සිදුවන අඛණ්ඩ වැඩිවීමක් මගින් එය හඳුනාගත හැකිය. (ලකුණු 02 යි)

- සම්පත් සම්භාරය ඉහළයාම : භෞතික ප්‍රාග්ධනය, ස්වාභාවික ප්‍රාග්ධනය, මානව ප්‍රාග්ධනය සහ සමාජ ප්‍රාග්ධනය වැඩිවීම.

- ඵලදායිතාව ඉහළයාම : තාක්ෂණික දියුණුව, නවෝත්පාදනයන් බිහිවීම, පර්යේෂණ සහ සංවර්ධනය සඳහා කෙරෙන ආයෝජන ඉහළ යාම, කළමනාකරණය උසස් වීම.

- ආර්ථික ස්ථායිතාව (මූලික සාර්ව ආර්ථික කොන්දේසි - Macroeconomic fundamentals හිතකර තත්ත්වයක පැවැතීම.)

- ව්‍යවසායකත්ව හැකියාවන් වර්ධනය වීම.

- අබාධ වෙළෙඳාම සහ ආයෝජනය

- සානුබල (ප්‍රෝත්සාහන) පැවැතීම.

- දේශපාලන හා සමාජයීය ස්ථාවරත්වය

- යහපාලනය තහවුරු වීම.

(එක් කරුණකට ලකුණු 01 බැගින් ඕනෑම කරුණු තුනකට ලකුණු 03 යි)

(ii) - ආර්ථික වෘද්ධිය, දරිද්‍රතාව දුරලීමේ ඉතා ප්‍රබල බලවේගයක් ලෙස ලොවපුරා පිළිගැනේ.

- වෘද්ධි ක්‍රියාවලිය නිසා සමාජයට ආර්ථික සෞභාග්‍යය සහ ආර්ථික අවස්ථා (opportunities) බිහිකෙරේ. රැකියා අවස්ථා පුළුල් වීමත් ආදායම් මට්ටම් ප්‍රසාරණය වීමත් නිසා තම දරුවන්ට හොඳ අධ්‍යාපනයක් ලබාදීමට දෙමාපියනට විශාල හැකියාවක් ලැබේ.

- කෙසේ වෙතත් විවිධ සමාජ ආර්ථික පරිසරයක් තුළ, ආර්ථික වෘද්ධිය දරිද්‍රතාව මත ඇති කරනු ලබන බලපෑම් වෙනස් විය හැකිය. වෘද්ධිය කෙතෙක් දුරට දරිද්‍රතාව අඩුකිරීමට දායකවන්නේද යන්න රඳා පවතිනුයේ, වෘද්ධියේ ප්‍රතිලාභ භුක්ති විඳීමට දිළිඳු ජනකොටස්වලට අවස්ථාව සැලසේද යන්න මතය. වෘද්ධි ක්‍රියාවලියට දිළිඳු ජන කොටස් කොතෙක් දුරට සහභාගීවන්නේ ද යන්න මතය. මෙනිසා හුදෙක් ආර්ථික වෘද්ධියේ ප්‍රමාණය පමණක් නොව වෘද්ධියේ රටාවද මෙහි දී වැදගත් වේ.

- වෘද්ධි ක්‍රියාවලිය බොහෝ අවස්ථාවන්හි දී ආදායම් විෂමතා වර්ධනය කිරීමට දායක වී තිබේ. එවැනි තත්ත්වයක දී දිළිඳුකම දුරලීමට වෘද්ධියට කළහැකි බලපෑම සීමාවනු ඇත.

- දිළිඳුකම දුරලීමේ දී ආර්ථික වෘද්ධිය ඉතා තීරණාත්මක විචල්‍යයක් වුවද, වෘද්ධිය තුළින් දිළින්දන්ට ප්‍රතිලාභ සැලසෙන ආකාරයේ ඌනපූරණ ප්‍රතිපත්ති ඒ සමග ක්‍රියාවට නොනැගුවහොත්, දිළිඳුකම අඩුකිරීමට වෘද්ධි ක්‍රියාවලිය අසමත් වනු ඇත.

- වෘද්ධි ප්‍රවර්ධන ප්‍රතිපත්ති සමග, දිළින්දන් ද වෘද්ධි ක්‍රියාවලියට සම්බන්ධ කෙරෙන ප්‍රතිපත්ති හඳුන්වාදිය යුතු වේ. උදාහරණ වශයෙන් ශ්‍රම වෙළෙඳපොළ වඩාත් කාර්යක්ෂම කිරීම, ස්ත්‍රී-පුරුෂ වශයෙන් වෙනස්කම් හා විෂමතාවන් ඉවත් කිරීම, මූල්‍ය

පහසුකම් සඳහා අවස්ථා සියල්ලන්ටම විවෘත වීම මෙහිදී වැදගත් වේ.

- වෘද්ධි ක්‍රියාවලි සාර්ව සහභාගීත්ව වෘද්ධි ක්‍රියාවලියක් නොවුවහොත්, වෘද්ධියේ ප්‍රතිලාභ අඩු ආදායම් සහිත ජන කොටස්වලට ගලා නොයයි.

**(ඕනෑම කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 05 යි)**

(iii) - තිරසාර සංවර්ධනය යන්නෙන් අදහස් කරනුයේ වර්තමාන පරපුර තම අවශ්‍යතා සපුරාගත යුත්තේ අනාගත පරම්පරාවලට ඔවුන්ගේ අවශ්‍යතා සපුරා ගැනීම ඇති හැකියාව කැප නොකරමින් බවයි.

**(ලකුණු 02 යි)**

- තිරසාර සංවර්ධනයේ හරය වශයෙන් පවතිනුයේ තීරණ ගැනීමේ දී ප්‍රධාන ස්තම්භ තුනක් එක්වර සැලකිල්ලට ගත යුතු බවයි. එනම් සමාජය, ආර්ථිකය සහ පරිසරයයි.

**(ලකුණු 02 යි)**

- සමාජය, ආර්ථිකය සහ පරිසරය ඉතා කිට්ටුවෙන් එකිනෙකට බැඳී පවත්නා බැවින් තීරණ ගත යුත්තේ ඒවා අතර සමබරතාවක් පවත්වාගැනීමට හැකිවන පරිදිය.

- සංවර්ධනය තිරසාර වනුයේ මෙම අංශ අතර මනා සම්බන්ධයක් හා සමබරතාවක් තිබුණහොත් පමණි. එක් අංශයක් පසෙකට ලා තවත් අංශයක් කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීමෙන්, සමස්ත සංවර්ධන ක්‍රියාවලියම පසුබෑමකට ලක්වනු ඇත. **(ලකුණු 01 යි)**

(iv) - අධ්‍යාපනය හා සෞඛ්‍ය ක්ෂේත්‍රයන්හි ස්ත්‍රී-පුරුෂ සමතාව ඉහළ නැංවීමෙහිලා කලාපය තුළ පුරෝගාමී කාර්යභාරයක් ශ්‍රී ලංකාව විසින් ඉටුකොට තිබුණද කාන්තාවන්ගේ ශ්‍රම හමුදා සහභාගීත්වය තුළ එම ලක්ෂණය පිළිබිඹු නොවේ. සෙසු නැගී එන ආර්ථිකයන් සහ සංවර්ධනය වෙමින් පවත්නා රටවල තත්ත්වය සමග සසඳන විට, ශ්‍රී ලංකාවේ කාන්තා ශ්‍රම හමුදා සහභාගීත්වය ඉතා පහළ මට්ටමක පවතී. 2017 දී ස්ත්‍රී ශ්‍රම හමුදා සහභාගීත්ව අනුපාතිකය 37%ක් වූ අතර, පුරුෂයන්ගේ ශ්‍රම හමුදා සහභාගීත්වය 75%ක් විය.

- ජනගහනය වියපත් වීමේ ප්‍රශ්නයට දැඩිව මුහුණ පා සිටින ශ්‍රී ලංකාව වැනි රටක ස්ත්‍රී ශ්‍රම හමුදා සහභාගීත්වය ඉහළ නැංවීම අතිශයින් වැදගත් වේ. 2026 තරම් මෑත වර්ෂයක පටන් ශ්‍රී ලංකාවේ ශ්‍රම හමුදාවේ ප්‍රමාණය සංකෝචනය වීමට පටන් ගන්නා බව ප්‍රජා විද්‍යාත්මක පුරෝකථන පෙන්නුම් කරයි. අනිකුත් කරුණු නොවෙනස්ව තිබියදී ජනගහනයෙන් ශ්‍රම හමුදාවට ප්‍රවේශවන පිරිස කුඩාවන විට, මූර්ත ප්‍රතිශීර්ෂ ආදායම් වර්ධනය පහළ වැටෙනු ඇත. උසස් පෙළ හෝ ඊට අඩු සුදුසුකම් සහිත අධ්‍යාපනයක් ලැබූ කාන්තා පිරිස, ශ්‍රම හමුදාව තුළට අන්තර්ග්‍රහණය කරගැනීමට හැකියාවක් ඇත්නම් මේ ප්‍රවණතාව ආපස්සට හැරවිය හැකිය.

- ශ්‍රම වෙළෙඳපොළේ ස්ත්‍රී-පුරුෂ පරතරය දැඩිව පැවතීම නිසා ශ්‍රී ලංකාව වාර්ෂිකව සැලකිය යුතු ආදායම් ප්‍රමාණයක් අහිමිකර ගන්නා බව පර්යේෂණ පෙන්නුම් කරයි. සේවා නියුක්තිය, ස්වයංරැකියා, ශ්‍රම බලකා සහභාගීත්වය සහ වැටුප් සම්බන්ධයෙන් දුරිය හැකි ස්ත්‍රී-පුරුෂ පරතරය හේතුවෙන්, ශ්‍රී ලංකාවේ ප්‍රතිශීර්ෂ ආදායමෙන් 20% ක් අහිමිවන බව ලෝක බැංකුව පෙන්වා දෙයි.

- ශ්‍රම හමුදා සහභාගීත්වයෙහි දැකිය හැකි ස්ත්‍රී-පුරුෂ පරතරය අඩුකිරීම මගින් ප්‍රජා විද්‍යාත්මක සංක්‍රාන්තියේ අහිතකර බලපෑම්වලින් ආරක්ෂා වීමට ද හැකියාවක් පවතී. ලෝක බැංකු පුරෝකථනයන්ට අනුව සෑම පුද්ගලයන් සිව් දෙනෙකුගෙන් කෙනෙකු වයස අවුරුදු 60ට වැඩි වීමත් සමග, අනාගතයේ දී යැපුම් අනුපාතය ඉහළ යතියි අපේක්ෂා කෙරේ. අඩු පුද්ගල සංඛ්‍යාවකගේ ආදායම වැඩි යැපෙන්නන් සංඛ්‍යාවක් සඳහා ප්‍රමාණවත් නොවීම හේතුවෙන් දරිද්‍රතා ගැටලුව ද බරපතළ විය හැකිය. එබැවින් ස්ත්‍රී ශ්‍රම හමුදා දායකත්වය ඉහළ නැංවීම මෙම තත්ත්වය තුළ ඉතා වැදගත් කරුණක් වේ.

**(එක් කරුණකට ලකුණු 02 බැගින්**
**ඕනෑම කරුණු තුනකට ලකුණු 05 යි)**

| 10 වන ප්‍රශ්නය | |
|---|---|
| **10.** (i) ගෝලීය වෙළෙඳපොළ තුළ, ශ්‍රී ලංකාවේ තරගකාරිත්වය ඉහළ නැංවීමෙහි ලා යෝග්‍ය ප්‍රතිපත්තිමය ක්‍රියාමාර්ග කවරේ ද? | (ලකුණු 05යි) |
| (ii) 2002 - 2016 කාලපරිච්ඡේදය තුළ, ශ්‍රී ලංකාවේ දරිද්‍රතාවයේ සහ ආදායම් විෂමතාවයේ උපනති පරීක්ෂා කරන්න. | (ලකුණු 05යි) |
| (iii) 1977 දී ශ්‍රී ලංකාවට හඳුන්වා දෙනු ලැබූ ආර්ථික නිර්බාධිකරණ ප්‍රතිසංස්කරණවල ප්‍රධාන අංග වූයේ කවර ඇ ද? | (ලකුණු 05යි) |
| (iv) තිරසාර හා වේගවත් ආර්ථික වෘද්ධියක් අත්කර ගැනීමෙහි ලා ශ්‍රී ලංකාව විසින් ජය ගත යුතු ප්‍රධාන අභියෝග කවරේ ද? | (ලකුණු 05යි) |

10. (i) - ස්ථාවර ජාතික සංවර්ධන ප්‍රතිපත්තියක අවශ්‍යතාව :
දේශපාලන පක්ෂවල න්‍යාය පත්‍ර අනුව කලින් කලට වෙනස් නොවන, ස්ථාවර භාවයෙන් හා විනිවිද භාවයෙන් යුතු, දිගුකාලීන ජාතික සංවර්ධන ප්‍රතිපත්තියක් සකසා ක්‍රියාත්මක කළ යුතුවේ.

- යටිතල පහසුකම්වල ගුණාත්මක භාවය ඉහළ නැංවිය යුතුය. (උදා : විදුලි බලය)

- නිලධාරිවාදී සීමා කිරීම් අඩුකොට පෞද්ගලික අංශය වෙත පහසුකම් සැපයීම කාර්යක්ෂම කළ යුතුය. කලාපීය රටවල් සමග සසඳන විට, නව ව්‍යාපාර ඇරඹීමේ දී, ගිවිසුම් බලගැන්වීමේ දී, දේපොළ ලියාපදිංචි කිරීමේ දී සහ ණය ලබා ගැනීමේ දී පවතින අධික නිලධාරිවාදී ක්‍රියාපටිපාටි හේතුවෙන් ව්‍යාපාර පවත්වාගෙන යාමේ දර්ශකය තුළ ශ්‍රී ලංකාව දැඩි පහසුබෑමකට ලක්ව සිටී.

- පර්යේෂණ හා සංවර්ධන ක්ෂේත්‍රයන් නවෝත්පාදකයනුත් දිරිගැන්විය යුතුය. ගෝලීය තරගකරුවන් අතර ශ්‍රී ලංකාවේ තරගකාරීත්වය ඉහළ නැංවීම පිණිස ආර්ථිකය නවීකරණය කිරීම් ක්‍රියාවලියක් සඳහා ප්‍රතිපත්ති සකසා ගත යුතුවේ.

- සාර්ව ආර්ථික ස්ථායිතාව වැඩි දියුණු කළ යුතුය. මූර්ත විනිමය අනුපාතිකය අධි ප්‍රමාණයවීම, අයවැය හිඟය පුළුල් වීම, ඉහළ රාජ්‍ය ණය අනුපාතය, ජංගම ගිණුමේ අඛණ්ඩ හිඟය වැනි කරුණු සාර්ව ආර්ථිකයේ දැඩි අස්ථාවරත්වයක් ඇති කරයි.

- ශ්‍රම ඵලදායිතාව ඉහළ නැංවීම : තාක්ෂණය හා අධ්‍යාපන නවීකරණය වැදගත් වේ.

**(එක් කරුණකට ලකුණු 01 බැගින් ලකුණු 05 යි)**

(ii) **2002 - 2016 කාලපරිච්ඡේදය තුළ දරිද්‍රතාවේ සහ ආදායම් විෂමතාවේ උපනති :**

| දර්ශක | 2002 | 2006/07 | 2009/10 | 2012/13 | 2016 |
|---|---|---|---|---|---|
| ජනගහන දරිද්‍රතා දර්ශකය | 22.7 | 15.2 | 8.9 | 6.7 | 4.1 |
| කුටුම්බ මාසික ආදායමේ ගිනි සංගුණකය | 0.48 | 0.49 | 0.49 | 0.48 | 0.45 |
| ධනවත් 20% ආදායමෙන් හිමිකරගත් % | 53.7% | 54.7% | 54.1% | 52.9% | 50.8% |
| දිළිඳු 20% ආදායමෙන් හිමිකරගත් % | 4.8% | 4.6% | 4.5% | 4.5% | 4.8% |

- 2002 - 2016 කාලය තුළ ජාතික දරිද්‍රතාව මටට්ම අඛණ්ඩ පහළ යාමක් පෙන්නුම් කරයි. **(ලකුණු 01 යි)**

- අඩු වශයෙන් වර්ෂ 2ක වත් දරිද්‍රතා දර්ශක දක්වා ඇත්නම් **(ලකුණු 02 යි)**

- 2010 වර්ෂයෙන් පසු ආදායම් විෂමතා මන්දගාමීව අඩුවීමක් පෙන්නුම් කොට ඇත. **(එක් වර්ෂයකවත් විෂමතා දර්ශක දක්වා ඇත්නම් ලකුණු 01)**

(iii) ආර්ථික නිර්බාධකරණ ප්‍රතිසංස්කරණවල ප්‍රධාන අංග

- ආනයන මත පනවා තිබූ ප්‍රමාණාත්මක සීමා ඉවත්කොට ආනයන තීරුබදු ක්‍රමයක් හඳුන්වාදීම.

- විනිමය පාලනයන් ලිහිල් කිරීම සහ බහුවිධ විනිමය අනුපාතික වෙනුවට ඒකීය විනිමය අනුපාතිකයක් හඳුන්වාදීම.

- දේශීය මුදලේ විදේශ අගය වෙළෙඳපොළ බලවේග මත ප්‍රධාන වශයෙන් තීරණය වීමට ඉඩ හැරීම - පාලිත නම්‍ය විනිමය අනුපාතික ක්‍රමයක් හඳුන්වාදීම.

- විදේශ සංචාර, විදේශ අධ්‍යාපනය සහ ආනයන මත පනවා තිබූ සීමාවන් රැසක් ලිහිල් කිරීම.

- මිල පාලනයන් සහ නියාමනයන් සැලකිය යුතු ලෙස ඉවත් කිරීම.

- තිරිඟු පිටි, පොහොර, කිරි ආහාර වර්ග, ඛනිජ තෙල් නිෂ්පාදිත මත ලබා දුන් සහනාධාර අඩු කිරීම.

- විදේශ ප්‍රාග්ධනය ආකර්ශණය කරගනු පිණිස කොළඹ කොටස් වෙළෙඳපොළෙහි විදේශීය ආයෝජකයන් මත පනවා තිබූ සීමාවන් ලිහිල් කිරීම.

- ආයෝජන මණ්ඩලය (මහ කොළඹ ආර්ථික කොමිෂම) යටතේ විදේශ ආයෝජකයන් සඳහා ඉතා පුළුල් පහසුකම් සමූහයක් ලබාදීම.

- බැංකු පද්ධතිය තුළට ප්‍රවේශ වීම වළක්වමින් තිබූ සීමා ඉවත්කොට දේශීය හා විදේශීය බැංකුකරුවනට බැංකු ක්ෂේත්‍රය විවෘත කිරීම.

- පොලී අනුපාතික මත තිබූ පාලනයන් ඉවත් කිරීම.

**(එක් කරුණකට ලකුණු 1 බැගින් ඕනෑම අංග පහකට ලකුණු 05 යි)**

(iv) - ශ්‍රී ලංකාවේ ආර්ථික වෘද්ධි ක්‍රියාවලියෙහි ව්‍යුහාත්මක අසමත්වීම් රැසක් පෙනෙන්නට තිබේ. මෑත වර්ෂවල ශ්‍රී ලංකාවේ ආර්ථික වෘද්ධිය හටගෙන තිබුනේ, රජය විසින් විශාල වශයෙන් වාණිජ ණය ලබා ගනිමින් ගොඩනගන ලද යටිතල පහසුකම් ඔස්සේ සිදු වූ වෙළෙඳ නොවන ක්ෂේත්‍රයන්හි ආර්ථික ක්‍රියාකාරකම් පදනම් කර ගනිමිනි. අඛණ්ඩ අයවැය හිඟය හා ගෙවුම් ශේෂයේ වර්තන ගිණුමේ හිඟය වැනි මූලික සාර්ව ආර්ථික පරාමිතින්හි දුර්වලතාව ආයෝජක විශ්වාශණීයත්වය පලුදුවීමටත්, දේශීය හා විදේශීය ආයෝජන පහළ වැටීමටත් බලපෑවේය. මෙම ප්‍රවණතාවන් ආපස්සට හැරවීම තිරසාර ආර්ථික වෘද්ධිය මුහුණදෙන ප්‍රධාන අභියෝගයයි.

- ශ්‍රී ලංකාවේ අපනයන ක්ෂේත්‍රයේ සාධනය අතිශය දුර්වල තත්ත්වයක පවතී. ශ්‍රී ලංකාවේ අපනයන තවමත් ඉතා අඩු මට්ටමේ තාක්ෂණය පදනම් කරගත් භාණ්ඩ අතළොස්සක් මත සංකේන්ද්‍රණය වී පවතී. තරගකාරී නොවන විනිමය අනුපාතික පවත්වාගෙන යාමත් ඉතා ඉහළ මට්ටමේ සඵල ආරක්ෂණ අනුපාතිකයනුත් නිසා ඉතා ප්‍රබල අපනයන විරෝධී අභිනතියන් (anti-export bias) නිෂ්පාදන ක්‍රියාවලියෙහි ගොඩ නැගී ඇත.

- රාජ්‍ය මූල්‍ය හැසිරීමද තිරසාර වෘද්ධි ක්‍රියාවලියක් සඳහා දැඩි බාධකයක් ව පවතී. කාලයක් තිස්සේ රාජ්‍ය අයභාරය පහළ වැටීමත් රාජ්‍ය ණය ඉහළ නැගීමත්, විදේශ ණය මත රඳා පැවැත්ම වැඩිවීමත් සාර්ව ආර්ථික අස්ථායිතාව වැඩි කිරීමට දායක වී ඇත.

- නියාමන ක්‍රියාවලිය ද දේශීය හා විදේශීය දෙපාර්ශ්වයේම ආයෝජකයන් අධෛර්යට පත් කොට තිබේ.

- ශ්‍රම හමුදාවේ නිපුණතා ව්‍යුහය තරගකාරී ගෝලීය ආර්ථිකයේ අවශ්‍යතාවන් සමග නොගැලපේ. වයස අවුරුදු 15ට වැඩි ජනගහනයේ ඉංග්‍රීසි භාෂා ප්‍රවීණතාව 22%කි. පරිගණක සාක්ෂරතාව 23%කි. වයස අවුරුදු 15ට වැඩි ජනගහනය තුළ තෘතියික අධ්‍යාපනය ලැබූ සංඛ්‍යාව 3.1%කි. 2015 වර්ෂයේ දී සාමාන්‍ය පෙළ ගණිතය අසමත් ප්‍රතිශතය 45%කි.

- යටිතල පහසුකම් ව්‍යුහයේ ගුණාත්මක භාවය දුර්වල වන අතර, ඒවායේ මිල ගණන් ද ආයෝජකයන්ට අහිතකරය බලශක්ති මිල, ප්‍රවාහන ගාස්තු, මූල්‍ය පහසුකම් සඳහා ප්‍රවේශ වීම යන කරුණු ආයෝජන හිතකාමී නොවේ. විශේෂයෙන් ඒවා සුළු හා මධ්‍ය පරිමාණ ව්‍යවසායකයන්ට අවාසිදායක වී ඇත.

- රාජ්‍ය ව්‍යවසායකයන්ගේ සාධනය ඉතා දුර්වල මට්ටම පැවැතීම රාජ්‍ය මූල්‍ය මත පීඩනය වැඩි කරයි. අකාර්යක්ෂම රාජ්‍ය ව්‍යවසායන් නඩත්තු කිරීමට රාජ්‍ය සම්පත් වැඩි වැඩියෙන් යොමු කිරීමට සිදුවී ඇත.

- දිගුකාලීන පැහැදිලි ජාතික ආර්ථික ප්‍රතිපත්තියක් නොතිබීම.

**(එක් කරුණකට ලකුණු 01 බැගින්
ඕනෑම කරුණු හතරකට ලකුණු 04 යි)**